இலங்கைப் பரீட்சைத் திணைக்களம்

## අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2021 (2022)
## க.பொ.த. (சா.தர)ப் பரீட்சை - 2021 (2022)

ෂය අංකය
ட இலக்கம் **50**

විෂයය
பாடம் නාට්‍ය හා රංග කලාව

### I පත්‍රය - පිළිතුරු
### I பத்திரம் - விடைகள்

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 2 | 11. | 1 | 21. | 1,2 | 31. | 4 |
| 02. | 1 | 12. | 4 | 22. | 3 | 32. | 3 |
| 03. | 4 | 13. | 3 | 23. | 4 | 33. | 4 |
| 04. | 2 | 14. | 2 | 24. | 2 | 34. | 3 |
| 05. | 3 | 15. | 4 | 25. | 2 | 35. | 4 |
| 06. | 3 | 16. | 2 | 26. | 1 | 36. | 1 |
| 07. | 1 | 17. | | 27. | 4 | 37. | 2 |
| 08. | 4 | 18. | 2 | 28. | 4 | 38. | 4 |
| 09. | 3 | 19. | 4 | 29. | 3 | 39. | 3 |
| 10. | 2 | 20. | 3 | 30. | 2 | 40. | 4 |

1. විකෘති නාට්‍යය ඇසුරෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(i) විකෘති නාට්‍යය රචනා කොට අධ්‍යක්ෂණය කළේ කවුද? (ලකුණු 02යි)

(ii) එම නාට්‍යයේ පළමු මහජන දර්ශනය වේදිකාගත කළ වර්ෂය හා රඟහල කුමක් ද? (ලකුණු 02යි)

(iii) ඉහත නාට්‍යයේ ප්‍රියංගනී පෙනී සිටි විභාගය සහ විෂය ධාරාව කුමක් ද? (ලකුණු 02යි)

(iv) මෙම නාට්‍යයේ යෞවන ප්‍රශ්න නියෝජනය කරන පිරිමි චරිත **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි)

(v) නාට්‍යයේ ප්‍රධාන ගැටුම ඇති වන්නේ කවර අය ගේ අපේක්ෂාවන් අතර ද? (ලකුණු 02යි)

(vi) විකෘති නාට්‍යයේ තේමාව කුමක් ද? (ලකුණු 02යි)

I. සෝමලතා සුබසිංහ මහත්මිය (ලකුණු 02යි)

II. 1982 - ලයනල් වෙන්ඩ්ට් රඟහල (ලකුණු 02යි)

III. අ.පො.ස (උ.පෙළ) - විද්‍යා විෂය ධාරාව / Bio-Science (ලකුණු 02යි)

IV. සරණපාල, ජගත් (ලකුණු 02යි)

V. දරුවන් ගේ හා දෙමාපියන් ගේ අපේක්ෂාවන් අතර / ප්‍රියංගනී සහ හිල්ඩා අතර / දුව සහ මව අතර (ලකුණු 02යි)

VI. නූතන තරගකාරී අධ්‍යාපන ක්‍රමය හමුවේ බිඳ වැටෙන යෞවනත්වයේ ඛේදවාචකය

(මීට සමාන අදහසක් ඇත්නම් ලකුණු දෙන්න)
(ලකුණු 02යි)

2. (i) මඩු ශාන්තිකර්ම පැවැත්වීමේ අරමුණු **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02යි)

(ii) ගම්මඩුව ශාන්තිකර්මයේ උපත් කතාව කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 04යි)

(iii) ගම්මඩුව ශාන්තිකර්මයේ ඇතුළත් නාට්‍යමය පෙළපොළි **හතරක්** නම් කොට, ඉන් **එකක** දක්නට ලැබෙන නාට්‍යමය ලක්ෂණ පැහැදිලි කරන්න. (ලකුණු 06යි)

I. ලෙඩ රෝග නිවාරණය / වස් දොස් දුරු කිරීම / සෙත් ශාන්තිය ප්‍රාර්ථනා කිරීම / සෞභාග්‍යය හා සශ්‍රීකත්වය (ලකුණු 02යි)

II. දඹදිව සේරමත් නැමැති රජ කෙනකු ගෝනකුට විද මැරීමෙන් අනතුරු ව වෛරී වූ ගෝනා රජුගේ මානෙල් විලේ මැඩියෙකු වී උපන් බවත්, දිනක් රජ මහනෙල් මලක් කඩා නාසයට ළං කරද්දී මැඩියා නාසය දිගේ මොළයට ගොස් කරන ලද පීඩාව හේතුවෙන් රජුට හිසරදයක් ඇති වූ බවත්, ප්‍රතිකාරවලින් සුවයක් නොලද අතර, රාත්‍රී හීනෙන් දුටු කාන්තාවක පිළිබඳ ව බමුණන් කළ විග්‍රහයට අනුව ලංකාවට පැමිණ රුවන්වැල්ලේ දී මෙම යාගය කළ බවත් උපත් කථාවේ සඳහන් වේ.

III. අඹ විදමන, මරා ඉපැද්දීම, රාම මැරීම, ඇත් බන්ධනය, මී බන්ධනය, දෙවොල් ගොඩ බැසීම
මින් එක් නාට්‍යමය පෙළපාලියක් තෝරාගෙන එහි දැකිය හැකි නාට්‍යමය ලක්ෂණ පැහැදිලි කර තිබිය යුතුය.

පෙළපාලි හතර නම් කිරීමට ලකුණු - 02
නාට්‍යමය ලක්ෂණ දෙකක් විස්තර කර තිබේ නම් ලකුණු - 04
(ලකුණු 06යි)

3. (i) 'චරිත නිරූපණය' යනු කුමක් දැයි හඳුන්වන්න. (ලකුණු 02යි)
(ii) චරිත නිරූපණයේ දී වැදගත් වන කරුණු **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 04යි)
(iii) චරිත ප්‍රතිනිර්මාණයේ දී නළු-නිළියන් අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග විස්තර කරන්න. (ලකුණු 06යි)

I. චරිත නිරූපණය යනු සතර අභිනය උපයෝගී කරගෙන කිසියම් චරිතයක ස්වභාවය හෝ ගති ලක්ෂණ රඟ පා පෙන්වීමයි
(මීට සමාන අදහසක් ප්‍රකාශ වන පිළිතුරු සඳහා ලකුණු ලබා දෙන්න). (ලකුණු 02යි)

II.

- පරිකල්පනය
- බුද්ධිය
- නිර්මාණශීලීත්වය
- චින්තනය
- ජීවන අත්දැකීම්
- නිරීක්ෂණය
- අනුකරණ හැකියාව
- අභිනය පෑමේ හැකියාව.
- චරිතයේ මානසික හා කායික ස්වභාවය

කරුණු 04ක් නම් කර ඇත්නම් (ලකුණු 04යි)

III.

- පිටපත අධ්‍යයනය
- පිටපතේ ඇති චරිත හඳුනාගැනීම
- සංවාද සමග ආංගික අභිනය සහ සාත්වික අභිනය එක් කරගැනීම
- අඛණ්ඩ පුහුණුවීම්වල නිරත වීම.

කරුණු 03ක් විස්තර කර ඇත්නම් (ලකුණු 06යි)

4. (i) 'රංගභූමි අලංකරණය' යනු කුමක් දැයි හඳුන්වා දෙන්න. (ලකුණු 02 යි)

(ii) වේදිකා පසුතල නිර්මාණයේ දී සැලකිලිමත් විය යුතු කරුණු **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) රංගභූමි අලංකරණය සඳහා භාවිතයට ගන්නා විවිධ අමුද්‍රව්‍ය, භාණ්ඩ සහ තාක්ෂණික උපක්‍රම විස්තර කරන්න. (ලකුණු 06 යි)

I. රංග භූමි අලංකරණය යනු නාට්‍යයෙන් ඉදිරිපත් වන විවිධ අවස්ථාවන්ට උචිත අයුරින් රංග භූමිය සකස් කිරීම යි (ලකුණු 02යි)

II.

- නාට්‍ය පෙළෙන් කියැවෙන දේශයට, කාලයට හා යුගයට ගැළපෙන පරිදි සකස් කිරීම
- නාට්‍යයෙන් නිරූපිත සිද්ධි හා අවස්ථාවන්ට ගැළපෙන අයුරින් සකස් කිරීම
- නාට්‍ය ශෛලියට උචිත අයුරින් නිර්මාණය කිරීම
- රංග කාර්යයට බාධාවක් නොවන පරිදි නිම කිරීම
- නළු කාර්යය ඉස්මතු වන පරිදි නිර්මාණය කිරීම
- රංග කාර්යය වඩාත් ඉස්මතු වන පරිදි ඊට ආධාරයක් වන ලෙස නිම කිරීම
- ඉක්මණින් සවි කිරීමට හා ගැලවීමට හැකි වන පරිද්දෙන් නිර්මාණය කිරීම
- සැහැල්ලු හා ශක්තිමත් අමුද්‍රව්‍ය භාවිතය
- නිර්මාණාත්මක ව, නාට්‍යෝචිත ව සහ අලංකාර ලෙස නිමවීම.

(කරුණු 04ක් සඳහන් කර ඇත්නම් ලකුණු 04යි)

III. ලී, කාඩ්බෝඩ්, හාඩ්බෝඩ්, රෙදි, කඩදාසි, රිජිෆෝම්, යකඩ, චිත්‍ර වස්ත්‍ර, විවිධ ගෘහ භාණ්ඩ වර්ග, ස්ලයිඩ්ස් (වර්ණ විනිවිදක), චිත්‍රපට, මල්ටිමීඩියා වැනි ප්‍රක්ෂේපණ යන්ත්‍ර, රංගාලෝකය මගින්

(කරුණු 03ක් ඔස්සේ විස්තර කර ඇත්නම් සම්පූර්ණ ලකුණු ලබාදෙන්න. ලකුණු 06යි)

5. (i) ප්‍රකට නූර්ති රචකයින් **දෙදෙනකු** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) නූර්ති කතා වස්තුවලට පාදක කරගත් නාට්‍ය වර්ග හෝ කතා වර්ග **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) නූර්ති රංග ශෛලියට ආවේණික ලක්ෂණ පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

I. සී දොන් බස්තියන් / නීතිඥ ජෝන් ද සිල්වා / නීතිඥ චාල්ස් ඩයස්

(දෙදෙනකු නම් කර ඇත්නම් ලකුණු 02)

II.

- ශේක්ෂ්පියර් නාට්‍ය
- සංස්කෘත නාට්‍ය
- ඓතිහාසික සිද්ධීන් පදනම් කරගත් නාට්‍ය
- දේශානුරාගය දනවන නාට්‍ය
- ජාතක කතා
- අරාබි නිසොල්ලාසයේ කතා
- රාමායණය හා මහා භාරතයේ කතා
- ජනප්‍රවාද

- උත්තර භාරතීය රාගධාරී සංගීතය යොදාගැනීම
- ගීත විශාල සංඛ්‍යාවක් අන්තර්ගත වීම
- කාන්තා චරිත කාන්තාවන් විසින් රඟපෑනු ලැබීම
- අලංකාර චිත්‍රවස්ත්‍ර භාවිත කිරීම
- වේශභූෂණ රංගභූමි අලංකරණ, නාට්‍යෝපකරණ ආදිය විචිත්‍රවත් ලෙස යොදාගැනීම
- සංවාද භාවිතය හා අභිනය පෑම නාට්‍ය ධර්මී ශෛලියට වඩාත් නැඹුරු වීම.
- බම්මන්නා නමින් විකට චරිතයක් ඇතුළත් වීම
- පින්තූර රාමු වේදිකාව භාවිතයට ගැනීම
- රංග කාලය පැය දෙක තුනකට පමණ සීමා වීම
- ආගමික හා ජාතික හැඟීම උද්දීපනය කරන කතා වස්තු ඉදිරිපත් කිරීම

(පහත කරුණු 03ක් විස්තර කර ඇත්නම් ලකුණු 6ක් ලබා දෙන්න.)

6. (i) ජයලත් මනෝරත්න රචනා කොට අධ්‍යක්ෂණය කළ නාට්‍ය **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)
(ii) වෙනත් අධ්‍යක්ෂවරුන් යටතේ ජයලත් මනෝරත්න රඟපෑ නාට්‍ය **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)
(iii) ඉහත (ii) හි දක්වා ඇති නාට්‍යකරු ගෙන් සිංහල නාට්‍ය කලාවට සිදු වූ සේවය අගයන්න. (ලකුණු 06 යි)

I. ජයලත් මනෝරත්න රචනා කොට අධ්‍යක්ෂණය කළ නාට්‍ය

- මහගිරිදඹ
- තලමල පිපිලා
- ගුරු තරුව
- අන්දරේලා
- සඳගිර
- ලෝකය තනි යායක්
- සුදු රෙදි හොරු
- සෙල්ලම් නිරිඳු
- හඬ නිහඬ
- කනේරු මල්

(නාට්‍ය දෙකක් නම් කර ඇත්නම් ලකුණු 02)

II.

| | |
|---|---|
| එදිරිවීර සරච්චන්ද්‍ර | මහාසාර, පේමතෝ ජායති සෝකෝ, මනමේ, සිංහබාහු, වෙස්සන්තර, කදා වළලු, එලොව ගිහින් මෙලොව ආවා |
| දයානන්ද ගුණවර්ධන | ගජමන් පුවත, මධුර ජවනිකා, ජසයා සහ ලෙංචිනා |
| කේ. බී. හේරත් | මායාදේවි, නාග ගුරුළා, වාසුදේව |
| කපිල කුමාර කාලිංග | නෙළුම් පොකුණ, රයිනෝසිරස් |
| ප්‍රසන්න විතානගේ | ද්විත්ව, හොරු සමග හෙළුවෙන් |
| සුනන්ද මහේන්ද්‍ර | සොක්‍රටීස්, පොකුරු වැස්ස |
| හෙන්රි ජයසේන | මකරා, තවත් උදෑසනක්, අහස් මාළිගා |
| සුගතපාල ද සිල්වා | සත සහ සත, දුන්න දූනුගමුවේ |
| ජයන්ත චන්ද්‍රසිරි | ඔත්තුකාරයා |
| බුද්ධික දමයන්ත | අපේ පංති කාමරය |
| නිමල් ඒකනායක | උක් දඬු ගින්න |

III.

- ස්වතන්ත්‍ර නාට්‍ය රචකයකු වශයෙන් නාට්‍ය 10ක් පමණ රචනා කර අධ්‍යක්ෂණය කිරීම
- පරිවර්තන නාට්‍ය කිහිපයක් නිෂ්පාදනය කිරීම
- දේශීය රංග සම්ප්‍රදාය හා ජන නාට්‍ය ශෛලීන්වල අභාසය ලබාගෙන නාට්‍ය නිර්මාණය කිරීම
- සමකාලීන සමාජ, දේශපාලන, සංස්කෘතික ගැටලු විවරණය කරමින් යථාර්ථවාදී නාට්‍ය නිර්මාණය කිරීම
- මෙරට ප්‍රවීණ මෙන්ම නවක නාට්‍ය අධ්‍යක්ෂවරුන් රාශියකගේ නිර්මාණවලට රංගනයෙන් දායක වීම
- සම්මානනීය විශිෂ්ට ගණයේ නාට්‍ය රාශියක කැපී පෙනෙන භූමිකා / චරිත නිරූපණය කිරීම
- නළුවකු, රචකයකු, අධ්‍යක්ෂවරයකු මෙන්ම නාට්‍ය කලාව පිළිබඳ උපදේශකවරයකු, ගුරුවරයකු, සම්පත්දායකයකු ලෙස නාට්‍ය හා රංග කලාව පෝෂණය කිරීමට දායක වීම
- රූපණ ශිල්පියකු ලෙස නාට්‍යධර්මී සහ ලෝකධර්මී ඇතුළු ඕනෑම නාට්‍ය ශෛලියක එක සේ දස්කම් පෙන්වීම
- විවිධ අත්හදා බැලීම් මගින් නාට්‍ය කලාවේ නව මං සොයා යාම
- එකිනෙකට වෙනස් වූ විවිධ තේමාවන් යටතේ නාට්‍ය නිර්මාණය කිරීම

ඉහත කරුණු හෝ සමාන කරුණු 03ක් ප්‍රමාණවත් පරිදි සඳහන් කර ඇත්නම් සම්පූර්ණ ලකුණු ලබා දෙන්න.

(ලකුණු 06)

7. පහත දැක්වෙන කථා සාරාංශය පදනම් කරගෙන ඒකාංක නාට්‍යයක් රචනා කරන්න. ඔබට කැමති පරිදි චරිතවල පුද්ගල නාම, ස්ත්‍රී පුරුෂ බව හෝ චරිත සංඛ්‍යාව වෙනස් කරගත හැකි ය.

සුනිල් දහම් පාසල් යන ගුණයහපත් ළමයෙකි. නිමල් අනවශ්‍ය දෙයට මුදල් වියදම් කරන හිතුවක්කාර ළමයෙකි. මිතුරන් වන මේ දෙදෙනා ගමනක් යන විට බිම වැටී තිබෙන මුදල් පසුම්බියක් අහුලා ගනිති. මුදල් පසුම්බියට කළ යුත්තේ කුමක් දැයි දෙදෙනා වාද කරන අතර එතැනට පොලිස් නිලධාරියෙක් පැමිණෙයි.

(i) පසුබිම, කාලය හා චරිත මැවීමට අවශ්‍ය පරිදි රංග විධාන සමග සංවාද රචනා කිරීම සඳහා (ලකුණු 04 යි)
(ii) චරිත අතර ගැටුමක් ඇති වන අයුරින් අවස්ථාව ගොඩනැගීම සඳහා (ලකුණු 04 යි)
(iii) කුතුහලය දනවන නොසිතූ පෙරළියක් සහිත නාට්‍යෝචිත අවස්ථාවක් නිර්මාණය කිරීම සඳහා (ලකුණු 04 යි)

I. පසුබිම, කාලය හා චරිත මැවීමට අවශ්‍ය පරිදි රංග විධාන සමග සංවාද රචනා කිරීම සඳහා

(ලකුණු 04)

II. චරිත අතර ගැටුමක් ඇති වන අයුරින් අවස්ථාව ගොඩ නැගීම සඳහා

(ලකුණු 04)

II. නොසිතූ පෙරළියක් සහිත නාට්‍යෝචිත අවස්ථාවක් නිර්මාණය කිරීම සඳහා

(ලකුණු 04)

නාට්‍ය හා රංග කලාව (සිංහල) I, II
நாடகமும் அரங்கியலும் (சிங்களம்) I, II
Drama and Theatre (Sinhala) I, II

...ation (Ord. Level) Examination, 2021(2022)

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරාගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කරගැනීමටත් යොදාගන්න.

## නාට්‍ය හා රංග කලාව (සිංහල) I

උපදෙස්:

- **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන** ගෙ... පිළිතුර තෝරා ගන්න.
- **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙ... කවය තුළ (X) ලකුණ යොදන්න.**
- එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

- පහත දැක්වෙන කවි, සිංදු හා ගීත ඇසුරෙන් අංක **1** සිට **4** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A
ආල වෙලා පියසේ පටන් – මම කෝල නැතිව සබයේ මෙදැන්
බාල මෙමගෙ වැරදි නොගන් – මෙම රාළහාමිල හට ආයුබෝවන්

B
අසාලා කිවේ වගතුග සියල්ලක්
යොදාලා කියන්නේ බොරු බස් ඇසිල්ලක්
රවාලා කීවේ අපහට දෝසයක්
කපාලා දෙමිය ගමමහගෙ බරට ගානයක්

C
සෝබමාන දේව පුරා සදිසි සාර ලක්දිවේ
සිංහලුන්ගේ නාරිගනාතීත කාලෙ සෝබනා

D
වෙදා නටන්නේ පළමු ව සබේට එන්නේ
යොදා කියන්නේ තාලෙට ගත වෙවුලන්නේ
කුදා වැනෙන්නේ සබයේ කොක් හඬ දෙන්නේ
විදා පාන්නේ අත්දෙක තැගි කියන්නේ

E
රුවිනා පුන් සඳසෙ බබලනා – සිරියා කොමළියෙ රැගෙනා දැන් බලනු මෙහසුනා
ගම්බීර මගෙ පිය නරවර – ගෙන් මෙහසුන ලැබුණි මෙවර
පෙම්බරියනි මෙනුවර හැර – යන්නට සිදුවිය සියපුර

**1.** කොහොඹා කංකාරිය ශාන්තිකර්මයට අයත් වන්නේ,
(1) A ය. (2) B ය. (3) D ය. (4) E ය.

**2.** පහතරට කෝලම් ගැමි නාට්‍යයට අයත් වන්නේ,
(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

**3.** ලියනෝරා නාඩගමෙහි ඇතුළත් වන්නේ,
(1) B ය. (2) C ය. (3) D ය. (4) E ය.

**4.** චාල්ස් ඩයස් සූරින් ගේ නූර්තියකට අයත් වන්නේ,
(1) A ය. (2) C ය. (3) D ය. (4) E ය.

**5.** "සැප හා දුක මුසු වූ ලෝකයාගේ ස්වභාවය ආංගිකාදි අභිනය මගින් දැක්වෙන කල එය 'නාට්‍ය' යි ප... ලැබේ." මෙම ප්‍රකාශය ඇතුළත් වන්නේ,
(1) අභිනයදර්පණයෙහි ය. (2) කාව්‍යශාස්ත්‍රයෙහි ය.
(3) නාට්‍යශාස්ත්‍රයෙහි ය. (4) දශරූපයෙහි ය.

6. පහත සඳහන් කලා අංග අතුරෙන් ප්‍රාසංගික කලා පමණක් අන්තර්ගත වරණය තෝරන්න.
(1) චිත්‍ර කලාව, නවකතාව, මුද්‍රා නාට්‍යය, සංගීතය සහ නාට්‍යය
(2) මූර්ති ශිල්පිය, බැලේ, ගීත නාට්‍යය, මුද්‍රා නාට්‍යය සහ ඔපෙරා
(3) සංගීතය, මුද්‍රා නාට්‍යය, නර්තනය, ඔපෙරා සහ නාට්‍යය
(4) නාට්‍යය, නර්තනය, රූකඩ නාට්‍යය, මුද්‍රා නාට්‍යය සහ සංගීතය

7. 'නෘත්ත' සම්බන්ධ වඩාත් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) ලී කෙළි සහ සවරම් නැටුමෙහි දක්නට ලැබෙන්නේ නෘත්ත ලක්ෂණය යි.
(2) රිද්මයානුකූල චලන සමග අත් පා, ඇස්, මුහුණ මගින් භාවයන් ප්‍රකාශවන නර්තන විශේෂයකි.
(3) අභිනය මාර්ගයෙන් කිසියම් අර්ථයක් ප්‍රකට වේ.
(4) මනිපුරි හා භරත නැටුම් නෘත්ත ප්‍රභේදය සඳහා නිදසුන් වේ.

8. චිත්ත ඒකාග්‍රතාවෙන් යුතු ව සියුම් භාවයන් නිරූපණය කිරීමට හා රූපණ කාර්යය සාර්ථක කරගැනීමට නළුවාට බාහිර ව උපකාර වන අභිනය පිළිවෙළින්
(1) ආංගික හා සාත්ත්වික අභිනය නම් වේ.
(2) සාත්ත්වික හා වාචික අභිනය නම් වේ.
(3) ආහාර්ය හා ආංගික අභිනය නම් වේ.
(4) සාත්ත්වික හා ආහාර්ය අභිනය නම් වේ.

9. ලෝකධර්මී නාට්‍ය සම්ප්‍රදාය සම්බන්ධ වඩාත් ම නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) මෙම නාට්‍ය වේදිකා සැරසිලිවලින් තොර ය.
(2) රංගනය සඳහා සංගීතය අත්‍යවශ්‍ය අංගයකි.
(3) බොහෝ විට කාලීන කතා පුවත් පාදක කරගනී.
(4) රංගනයේ දී වෙස්මුහුණු භාවිත කිරීම මෙහි සුවිශේෂී ලක්ෂණයකි.

10. නාට්‍ය පෙළ සම්බන්ධ **අසත්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) නාට්‍ය පෙළෙහි ප්‍රබලත්වය සාර්ථක නාට්‍ය නිෂ්පාදනයට බලපායි.
(2) රංගවිධාන නාට්‍ය පෙළට අත්‍යවශ්‍ය අංගයක් නො වේ.
(3) නාට්‍ය නිර්මාණයට, රසාස්වාදයට මෙන් ම විචාරයට ද පදනම වන්නේ නාට්‍ය පෙළ යි.
(4) කිසියම් අවස්ථාවක්, සිද්ධියක් හෝ අත්දැකීමක් පාදක කොටගෙන නාට්‍ය පෙළ රචනා කෙරේ.

11. නාට්‍ය රචකයා විසින් ලියන ලද පිටපත සජීවී කලාවක් ලෙසට ප්‍රේක්ෂකයා වෙත ගෙනයාමට මූලික වන්නේ/ වන්නෝ,
(1) නළු-නිළියෝ ය.
(2) නාට්‍ය නිෂ්පාදකයා ය.
(3) අර්ථපති ය.
(4) වේදිකා පරිපාලක ය.

12. රංගභූමි පාලක සතු වගකීම වන්නේ,
(1) නළු-නිළියන්ට දෙබස් මතක් කර දීම යි.
(2) ආලෝකකරණ ශිල්පියාට උපදෙස් දීම යි.
(3) අංග රචනා ශිල්පියාට සහාය වීම යි.
(4) දර්ශනයට අදාළ කටයුතු කළමනාකරණය කිරීම යි.

13. "වේදිකාව මත නළුවා ගීතයක් ගයමින් සිට ක්ෂණයකින් ඔහු පුලුන් රොදක් මෙන් සැහැල්ලුවෙන් ඇද වැටී පෙරළී යයි." මෙම අවස්ථාව සාර්ථක ව නිරූපණය කිරීමට ඔහු නියැළුණු රංග අභ්‍යාස වන්නේ පිළිවෙළින්
(1) තාපන අභ්‍යාස සහ සංවේදන අභ්‍යාස යි.
(2) කටහඬ අභ්‍යාස සහ තාපන අභ්‍යාස යි.
(3) කටහඬ අභ්‍යාස සහ ශිථිලකරණ අභ්‍යාස යි.
(4) සංවේදන අභ්‍යාස සහ කටහඬ අභ්‍යාස යි.

14. චරිතාංග අංග රචනය යොදාගන්නේ
(1) චරිතවල ගතිගුණ ඉස්මතු කිරීමට යි.
(2) නළුවන්ගේ බාහිර ස්වරූපය වෙනස් කිරීමට යි.
(3) නළු පෞරුෂය ඉස්මතු කිරීමට යි.
(4) නළු-නිළියන්ගේ දක්ෂතා ඔප් නැංවීමට යි.

15. නාට්‍යෝචිත අවස්ථාවක ලක්ෂණයක් වන්නේ,
(1) චරිත අතර සංවාද භාවිතය යි.
(2) ප්‍රබන්ධ කළ කතා පුවතක් තිබීම යි.
(3) සාමූහික රංගන ඇතුළත් වීම යි.
(4) චරිත අතර ගැටුමක් උද්ගත වීම යි.

16. පුළුල් කෝණයකින් මුළු වේදිකාව ආලෝකමත් කිරීමට යොදා ගනු ලබන්නේ,
(1) යොමු පහන් ය.
(2) ධාරාලෝක පහන් ය.
(3) අල්ට්‍රා වයලට් පහන් ය.
(4) ප්‍රක්ෂේපණ පහන් ය.

● පහත දැක්වෙන වගුව ඇසුරෙන් අංක **17** සිට **20** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු

| නාට්‍යයේ නම | රචකයාගේ නම | අනුවර්තනය | මෙරට නිෂ්පාදක/අනුවර්තක |
|---|---|---|---|
| ද ප්‍රපෝසල් | A | මගුල් ප්‍රස්තාව | යූ.ඒ. ගුණසේකර |
| ද චෙරි ඕචර්ඩ් | ඇන්ටන් චෙකොව් | මහගෙදර | B |
| ඉක්නෙව්ටාශ් | සොෆොක්ලීස් | C | බන්දුල ජයවර්ධන |
| D | රේ කුනි | රෝමය ගිනි ගනී | බන්දුල විතානගේ |

**17.** ඉහත වගුවේ A කොටුවට ඇතුළත් විය යුතු රචකයාගේ නම කුමක් ද?
(1) ගාර්ෂියා ලෝර්කා (2) බර්නාඩ් ෂෝ (3) හෙන්රික් ඉබ්සන් (4) නිකොලොයි ගොගොල්

**18.** ඉහත වගුවේ B කොටුවට ඇතුළත් විය යුතු අනුවර්තක ගේ නම කුමක් ද?
(1) කේ.බී. හේරත් (2) රංජිත් ධර්මකීර්ති (3) ජයලත් මනෝරත්න (4) සුගතපාල ද සිල්වා

**19.** ඉහත වගුවේ C කොටුවට අයත් අනුවර්තන නාට්‍යයේ නම කුමක් ද?
(1) අහස් මාලිගා (2) වෙස් මුහුණු (3) හිරු නැති ලොව (4) බෙර හඬ

**20.** ඉහත වගුවේ D කොටුවට අයත් නාට්‍යයේ නම කුමක් ද?
(1) ඇපල් කාට් (2) ද බ්‍රුගන් (3) රන් ෆෝ යුවර් වයිෆ් (4) ද ෆාදර්

**21.** මී බන්ධනය නැමැති නාට්‍යමය අවස්ථාව ඇති ශාන්තිකර්මය කුමක් ද?
(1) කිරි මඩුව (2) දෙවොල් මඩුව (3) පූනා මඩුව (4) පහන් මඩුව

**22.** නූතන රංග භූමිය මනඃකල්පිත ව බෙදා ඇති කොටස් ගණන කීය ද?
(1) හයයි (2) අටයි (3) නවයයි (4) දහයයි

**23.** ඓතිහාසික කතා පුවතක් ඇසුරෙන් නාට්‍යයක් නිර්මාණයේ දී,
(1) එම යුගයේ භාෂා ව්‍යවහාරයට අනුගත විය යුතු ය.
(2) වර්තමාන සමාජයට අදාළ පණිවිඩයක් ඇතුළත් විය යුතු ය.
(3) ගීත ඇතුළත් විය යුතු ය.
(4) ඓතිහාසික සිද්ධි අනුපිළිවෙළ වෙනස් නොකළ යුතු ය.

**24.** එම්.එච්. ගුණතිලකගේ සක්කාය දිට්ඨි නාට්‍යය නිර්මාණය කරනු ලැබුයේ කිනම් ගැමි නාට්‍ය විශේෂය ආභාසය කොටගෙන ද?
(1) සොකරි (2) කෝලම් (3) නාඩගම් (4) පාස්කු

● පහත දැක්වෙන ඡායාරූප ඇසුරෙන් අංක **25** සිට **28** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.


A


B


C


D


E

**25.** ස්වතන්ත්‍ර නාට්‍ය රචනයෙහිලා ප්‍රසිද්ධ වන්නේ,
(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

**26.** මධුර ජවනිකා හා ආනන්ද ජවනිකා නිර්මාණයෙහිලා සම්බන්ධ වන්නේ,
(1) A ය. (2) B ය. (3) D ය. (4) E ය.

**27.** ආර්.ආර්. සමරකෝන්ගේ කැලණි පාලම නාට්‍යයේ රංගනයට සම්බන්ධ දෙදෙනා වන්නේ,
(1) A සහ C ය. (2) B සහ C ය. (3) C සහ D ය. (4) C සහ E ය.

**28.** නාට්‍යධර්මී ශෛලියෙන් රඟපෑමට වඩාත් ප්‍රවීණතාවක් දක්වනුයේ,
(1) A සහ C ය. (2) A සහ D ය. (3) C සහ D ය. (4) D සහ E ය.

**29.** හව කඩතුරාව සහ මීපුර වැසියෝ යන නාට්‍ය දෙක සඳහා රංගනයෙන් දායක වූයේ
(1) නීල් අලස් ය. (2) චාන්දනී සෙනෙවිරත්න ය.
(3) සුමින්ද සිරිසේන ය. (4) දීපානි සිල්වා ය.

**30.** අතුණු ඉන්දිය නෙරුක්කුත්තු ආභාසය ලැබූ බව පැවසෙන ගැමි නාට්‍ය විශේෂය වන්නේ,
(1) සොකරි ය. (2) නාඩගම් ය. (3) කෝලම් ය. (4) නූර්ති ය.

- පහත දැක්වෙන වෙස් මුහුණු දෙක ආශ්‍රයෙන් අංක **31** සහ **32** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.


**A**


**B**

**31.** A සහ B වෙස් මුහුණු පිළිබඳ සත්‍ය ප්‍රකාශය වන්නේ,
(1) A සන්නි මුහුණක් වන අතර, B කෝලම් මුහුණකි.
(2) A කෝලම් මුහුණක් වන අතර, B සන්නි මුහුණකි.
(3) A සහ B දෙකම සන්නි මුහුණු දෙකකි.
(4) A සහ B දෙකම කෝලම් මුහුණු දෙකකි.

**32.** මෙම වෙස් මුහුණු භාවිතය සම්බන්ධ නිවැරදි ප්‍රකාශය වන්නේ,
(1) රෝග සුවකිරීම අරමුණු කොටගෙන භාවිත කෙරිණි.
(2) කාලීන රාජසභා නර්තන සඳහා යොදගෙන තිබුණි.
(3) තත්කාලීන චරිත උපහාසයෙන් යුතු ව නිරූපණය කිරීමට යොදා ගැනුණි.
(4) කෝලම් නාටකවල අපර රංගය සඳහා භාවිත කෙරිණි.

**33.** රංගනය හා අධ්‍යක්ෂණය යන ක්ෂේත්‍ර දෙකින් ම නාට්‍ය කලාවේ ප්‍රගමනයට දායක වූයේ කවුද?
(1) ජැක්සන් ඇන්තනි (2) පරාක්‍රම නිරිඇල්ල (3) සුමින්ද සිරිසේන (4) හෙන්රි ජයසේන

**34.** රුසියානු රචකයකුගේ නාට්‍ය පමණක් ඇතුළත් වරණය වන්නේ,
(1) ඉබේ වෙදා සහ හැංගි හොරා ය. (2) මුදලාලිගේ පෙරළිය සහ බහින කලාව ය.
(3) තපුවා කපෝති සහ රහස් කොමසාරිස් ය. (4) වෙද හටන සහ වලහා ය.

**35.** නාඩගම් රචකයකු **නොවන්නේ**,
(1) පිලිප්පු සිඤ්ඤෝ (2) චාල්ස් ආංබ්‍රිව් (3) ගාබ්‍රියෙල් ප්‍රනාන්දු (4) ජෝන් ද සිල්වා

**36.** වේදිකා නාට්‍යයක් සඳහා නාට්‍යෝපකරණ
(1) නාට්‍යයේ ශෛලියට අනුගත විය යුතු ය.
(2) ප්‍රේක්ෂක ආකර්ෂණයක් දිනාගත යුතු ය.
(3) නාට්‍යධර්මී නාට්‍ය සඳහා පමණක් භාවිත කළ යුතු ය.
(4) වේෂභූෂණවලට ගැළපෙන සේ නිර්මාණය කළ යුතු ය.

**37.** සම්මාදම් කර සපයාගත් වී කොටා පොළා ලිප්ගල් බැඳ හාල් සෝදා ලිප මත තබා ලිපට පිඹීමාදී කවි ඇතුලු බෙර වැයීම් ආදියෙන් සමන්විත අන්තර් රංග අවස්ථාව වන්නේ,
(1) ඌරා යක්කම යි. (2) නයා යක්කම යි. (3) සිනා යක්කම යි. (4) දර්පන යක්කම යි.

**38.** අංග රචනයේ දී වඩාත් සැලකිය යුතු වන්නේ,
(1) නාට්‍ය ප්‍රභේදය යි. (2) ප්‍රේක්ෂාව යි. (3) රූමත් බව යි. (4) ශෛලිය යි.

**39.** නාඩගම්හි පූර්වරංගය හා බැඳි චරිතයක්/චරිත වන්නේ,
(1) සබේ විදානේ ය. (2) පච්චමිරා ය.
(3) දේශනාවාදීහු ය. (4) ආඩිගුරු ය.

**40.** මිනර්වා නාට්‍යයක් ඇතුළත් වරණය තෝරන්න.
(1) මැනේජර් (2) තපුවා කපෝති (3) මුදලාලිගේ පෙරළිය (4) සැඟවුණු පිළිතුර

❊ ❊